**ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව**
**இலங்கைப் பரீட்சைத் திணைக்களம்**
**Department of Examinations, Sri Lanka**

**අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2015 අගෝස්තු**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2015 ஓகஸ்ற்**
**General Certificate of Education (Adv. Level) Examination, August 2015**

| | | |
|---|---|---|
| ක්‍රිස්තියානි ධර්මය I<br>கிறிஸ்தவம் I<br>Christianity I | 43 S I | පැය දෙකයි<br>இரண்டு மணித்தியாலம்<br>Two hours |

**උපදෙස්:**

※ **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
※ උත්තර පත්‍රයේ නියමිත ස්ථානයේ ඔබේ **විභාග අංකය** ලියන්න.
※ උත්තර පත්‍රයේ දී ඇති උපදෙස් ද සැලකිල්ලෙන් කියවා පිළිපදින්න.
※ 1 සිට 50 තෙක් එක් එක් ප්‍රශ්නයට (1), (2), (3), (4), (5) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ ඉතාමත් ගැළපෙන හෝ** පිළිතුර තෝරාගෙන, එය **උත්තර පත්‍රයේ පසුපස දැක්වෙන උපදෙස් පරිදි කතිරයක් (X) යොදා දක්වන්න.**

**1.** බයිබල් විශාරදයින්ගේ මතය අනුව හිබෲ පිටපත, මැසරොටික් පිටපත යනුවෙන් තීරණය වූයේ කුමන මන්ත්‍රණ සභාවේ ද?
(1) හිප්පො (2) ජම්නියා රබ්බිවරුන්ගේ (3) කාර්තේජ් (4) ත්‍රිදෙන්තීනු (5) ජෙරුසලෙම්

**2.** ඊශ්‍රායලය නමින් ව්‍යවහාර වූ පලස්තීනය පුරාණයේ හැඳින්වූයේ කුමන නමකින් ද?
(1) කයිසාරියාන දේශය යනුවෙනි. (2) සමරියානු දේශය යනුවෙනි. (3) කානාන් දේශය යනුවෙනි.
(4) අසිරියන් දේශය යනුවෙනි. (5) කපර්නාවුන් දේශය යනුවෙනි.

**3.** ශුද්ධ බයිබලය තුළ ජේසුන් වහන්සේගේ ජීවිතය හා සම්බන්ධ ව පැවැති ප්‍රදේශය කුමක් ද?
(1) යුප්‍රටීස් නදිය අවට (2) ගලීල මුහුද අවට (3) මළ මුහුද අවට
(4) නයිල් නදිය අවට (5) ලෙබනන් කඳු අවට

**4.** අන්‍ය ජාතිකයන් හා මිශ්‍ර වූ ජනතාවක් ලෙස හැඳින්වූයේ,
(1) සමරිතාන්වරුන් ය. (2) හෙබ්‍රෙව්වරුන් ය. (3) ග්‍රීකවරුන් ය.
(4) පිලිප්පිවරුන් ය. (5) කොරින්තිවරුන් ය.

**5.** ජුදෙව්වන්ගේ ආගමික හා සමාජීය ජීවිතයේ මධ්‍යස්ථානය පිහිටියේ,
(1) කානාන් දේශයේ ය. (2) කාර්මෙල් කන්දේ ය. (3) සීනයි කන්දේ ය.
(4) සිරියාවේ ය. (5) ජෙරුසලමේ ය.

**6.** දෙවන මැවීමේ කතාව තුළ විශ්වයේ කේන්ද්‍රය ලෙස ඉදිරිපත් කරනු ලබන්නේ,
(1) ජීවන වෘක්ෂයයි. (2) යහපත හා අයහපත දැන ගැනීමේ වෘක්ෂයයි.
(3) අහස හා පොළොවයි. (4) ලෝකය මැවීමයි.
(5) ඒදන් උයනයි.

**7.** ජනාකීර්ණ ප්‍රදේශයක් වූ ගලීලයේ විසූ ජනයාගේ ප්‍රධාන වෘත්තීන් වූයේ,
(1) වඩු කර්මාන්තය සහ ගොවිතැන ය. (2) ධීවර කර්මාන්තය සහ වඩු කර්මාන්තය ය.
(3) කෘෂිකර්මය සහ ධීවර කර්මාන්තය ය. (4) මුද්‍රණ ශිල්පය සහ වඩු කර්මාන්තය ය.
(5) හස්ත කර්මාන්තය සහ සත්ත්ව පාලනය ය.

**8.** ඊශ්‍රායෙල්වරුන් සංස්කෘතික වශයෙන් නෑකම් කියූ ජන කොටසක් වූයේ,
(1) හික්සෝස්වරුන් ය. (2) එපිසවරුන් ය. (3) මිසර ජාතීන් ය.
(4) පාරාවරුන් ය. (5) හෙබ්‍රෙව්වරුන් ය.

**9.** පීඩා දහය ප්‍රධාන වශයෙන් කවර සම්ප්‍රදායවල සංකලනයක් ද?
(1) යාවේ, එලෝයිම්, වාචික (2) පූජක, යාවේ, වාචික (3) පූජක, එලෝයිම්, වාචික
(4) පූජක, යාවේ, එලෝයිම් (5) එලෝයිම්, පූජක, ද්විතීය

**10.** 'බෙරිත්' යන හිබෲ වචනයේ අර්ථය කුමක් ද?
(1) දෙවියන් හා මිනිසා අතර ඇති කර ගන්නා ගිවිසුමයි.
(2) දෙපාර්ශ්වයක් අතර ඇති කර ගන්නා එකඟතාවයි.
(3) ජනතාව හා දෙවිඳුන් අතර ඇති කර ගන්නා ගිවිසුමයි.
(4) රජු හා ජනතාව අතර ඇති කර ගන්නා එකඟතාවයි.
(5) දෙවියන් හා දිවැසිවරුන් අතර ඇති කර ගන්නා එකඟතාවයි.

**11.** විප්‍රවාසය යනු,
(1) පොරොන්දු දේශය කරා යාමකි. (2) පව්කාරයන්ට දුන් දඬුවමකි.
(3) දෙවිඳුන් නැති දේශයක විසීමකි. (4) දෙවිඳුන් සමඟ එක් දේශයක විසීමකි.
(5) කිරියෙන්, පැණියෙන් ඉතිරෙන දේශයකට යාමකි.



[ දෙවැනි පිටුව බලන්න.

**12.** 'යෙසායා' යන නාමයෙහි අර්ථය කුමක් ද?
(1) ජේසු නසරේනු විසින් ගලවා ගනු ලැබීමයි. (2) යාවේ විසින් ගලවා ගනු ලැබීමයි.
(3) එලෝයිම් විසින් ගලවා ගනු ලැබීමයි. (4) ජේසු නසරේනු විසින් කැඳවනු ලැබීමයි.
(5) ඊශ්‍රායෙල් ජනතාව විසින් ගලවා ගනු ලැබීමයි.

**13.** ජුදා ආගමික නීතියට අනුකූල ව ගැටලු විසඳන හා විනිශ්චය ලබා දෙන ස්ථානය වනුයේ,
(1) සිනගෝගය ය. (2) අධිකරණ මණ්ඩපය ය. (3) සැන්හෙන්ඩ්‍රින් සභාව ය.
(4) සභා මණ්ඩපය ය. (5) සභා සම්මේලනය ය.

**14.** නව ගිවිසුමේ සඳහන් පරිදි ක්‍රිස්තුන් වහන්සේගේ කාලයේ දී සැන්හෙන්ඩ්‍රින් සභාවේ සිටි නායකයන් දෙදෙනකු වන්නේ,
(1) පිලාත් සහ අන්නාස් ය. (2) අන්නාස් සහ හෙරොද් ය. (3) හෙරොද් සහ පිලාත් ය.
(4) අන්නාස් සහ කයිපාස් ය. (5) කයිපාස් සහ පිලාත් ය.

**15.** දිවැසිවරු කැඳවීම්වලට අනුව එසකියෙල් දිවැසිවරයා ධෛර්යමත් කරනු ලබන්නේ,
(1) "විප්‍රවාසි සෙනඟ වෙත යන්න" යනුවෙනි.
(2) 'ගිනි අඟුරු කැබැල්ලකින් තොල් පවිත්‍ර කිරීම' යනුවෙනි.
(3) "බිය නොවන්න, මම ඔබ සමඟ සිටිමි" යනුවෙනි.
(4) "බිය නොවන්න, ඔබ සවිමත් කරමි" යනුවෙනි.
(5) මුඛය ස්පර්ශ කිරීමෙනි.



**16.** "සියොන් පුරඟන ......... ඔබේ රජතුමාණන් ඔබ වෙතට වඩින සේක" යන්නෙන් ප්‍රකාශ වන්නේ,
(1) සාමයේ කුමාරයාණන්ගේ ආගමනය පිළිබඳ ව ය. (2) ඊශ්‍රායෙලයට පැමිණෙන අධිපතියෙක් පිළිබඳ ව ය.
(3) දුක් විඳින සේවකයා පිළිබඳ ව ය. (4) අනාගත සාම රාජ්‍යය පිළිබඳ ව ය.
(5) එම්මානුවෙල් ලකුණ පිළිබඳ ව ය.

**17.** 'හේන්' 'හෙසෙඩ්' 'රහ්මීම්' යනු,
(1) නෝවාගේ දරුවන් තිදෙනාගේ නම් ය. (2) යාවේ දෙවිඳුන්ගේ ස්වභාවය පැහැදිලි කිරීම ය.
(3) ඊශ්‍රායෙලය තුළ බෙදා දුන් භූමි ප්‍රදේශ තුන ය. (4) ඊශ්‍රායෙලයේ රජකම් කළ රජවරුන් තිදෙනෙකි.
(5) දිවැසිවරයා හඳුන්වනු ලබන නම් තුනකි.

**18.** ජේසුන් වහන්සේ මෙසියස්වරයාණන් බව පෙන්වීම පරමාර්ථය කරගත් සුභාරංචි කතුවරයා වන්නේ,
(1) ශුද්ධ වූ ලූක්තුමා ය. (2) ශුද්ධ වූ පාවුලුතුමා ය.
(3) ශුද්ධ වූ ජොහන්තුමා ය. (4) ශුද්ධ වූ මාර්ක්තුමා ය.
(5) ශුද්ධ වූ මතෙව්තුමා ය.

**19.** නව ගිවිසුමේ සඳහන් පරිදි "මා කරන්නේ කුමක් දැයි ඔබ නොදන්නාහු ය. එහෙත් පසුව වැටහෙනු ඇත." යි ජේසුන් වහන්සේ පැවසුවේ කිනම් අවස්ථාවේ දී ද?
(1) ලාසරස් මරණින් නැගිට වූ අවස්ථාවේ දී (2) කුරුසියේ උකුත් වන අවස්ථාවේ දී
(3) ශ්‍රාවකයින්ගේ පාද දෝවනය කළ අවස්ථාවේ දී (4) අන්‍ය රූප විලාස වූ අවස්ථාවේ දී
(5) පවුකාර ස්ත්‍රියට සමාව දුන් අවස්ථාවේ දී

**20.** සමදර්ශක සුවිශේෂවල ඇති විශේෂත්වය වන්නේ, එහි අඩංගු කරුණු මෙන් ම,
(1) ප්‍රාතිහාර්ය හා උපමා ද එක හා සමාන වීම ය.
(2) උපමා, ප්‍රාතිහාර්ය හා කාල වකවානු එක හා සමාන වීම ය.
(3) ක්‍රිස්තු ඉගැන්වීම් හා කාල වකවානු එක හා සමාන වීම ය.
(4) සැලැස්ම හා ලේඛන ශෛලීය එක හා සමාන වීම ය.
(5) උපත, දුක්විඳීම හා උත්ථානය එක හා සමාන වීම ය.

**21.** යුගාන්ත විනිශ්චය ගැන කියැවෙන්නේ,
(1) දැල පිළිබඳ උපමාව මඟිනි. (2) නිධානය පිළිබඳ උපමාව මඟිනි.
(3) මුහුන් පිළිබඳ උපමාව මඟිනි. (4) අබ ඇටය පිළිබඳ උපමාව මඟිනි.
(5) මුතු සොයා ගිය වෙළෙන්දා පිළිබඳ උපමාව මඟිනි.

**22.** ස්වාමීන් වහන්සේ උකුත්වන මොහොතේ අන්ධකාරය ඇති වූ බව ශුද්ධ වූ මාක් සුවිශේෂකවරයා 15:33 සඳහන් කරයි. විවිධ මතවාදීන් මෙය විවිධ අයුරින් අර්ථකථනය කළත්, එය දේව බල ප්‍රකාශනයක් බව සඳහන් කළේ කුමන දිවැසිවරයා ද?
(1) ඔබදියා (2) ජොවෙල් (3) දානියෙල් (4) මීකා (5) ආමොස්

**23.** ශුද්ධ වූ ජොහන් සුවිශේෂයේ උත්තම පූජක යැදුමේ 17:24 වගන්තියේ සඳහන් "මා සිටින තැන ඔවුන් සිටිනවාට කැමැත්තෙමි." යන ප්‍රකාශයෙන් ගම්‍ය වන්නේ කුමක් ද?
(1) විශ්වාසයේ සංසයක් ලෙස ජීවත්වීමේ වැදගත්කම ප්‍රකාශ කරන බවයි.
(2) මුළු ලෝකවාසීන් පියාණන් සමඟ සම්බන්ධ වන බවයි.
(3) දෙවියන් වහන්සේ, තමන් වෙත පැවරූ කාර්යය නිමා කළ බවයි.
(4) ක්‍රිස්තුන් වහන්සේගේ පූර්ණ කැපවීම හා පරිත්‍යාගය ප්‍රකාශ වන බවයි.
(5) දෙවියන් වහන්සේ හා ක්‍රිස්තුන් වහන්සේ අදහන සියල්ල විශ්වාසයේ සංසයක් බවයි.

**24.** ශුද්ධ වූ ජොහන් 16 :15 වගන්තියෙන් ශුද්ධ වූ ත්‍රිත්වයේ අන්‍යෝන්‍ය සම්බන්ධය කෙසේ ද, යන්න පැහැදිලි කරයි. මෙහි ශුද්ධාත්මයාණන් ගැන ප්‍රකාශ වන්නේ කුමක් ද?
(1) පුත්‍රයාණන් වහන්සේගේ වචනය බව (2) ශුද්ධ වූ ත්‍රිත්වයේ බලය බව
(3) ශුද්ධ වූ ත්‍රිත්වයේ මඟ පෙන්වන්නා බව (4) ශුද්ධ වූ ත්‍රිත්වයේ ක්‍රියා කරන්නා බව
(5) පුත්‍රයාණන් වහන්සේගේ ජීවය බව

**25.** රෝම අධිරාජ්‍යයට සහ ජුදා නායකත්වයට විරුද්ධ ව චෝදනා ලැබූ අයෙකුට ප්‍රසිද්ධියේ උපකාර කිරීමට ඉදිරිපත් වූයේ,
(1) නිකදේමුස් ය. (2) ජොහන්තුමා ය. (3) සමරිතාන ස්ත්‍රිය ය.
(4) දකුණුපස සිටි සොරා ය. (5) අරමතියාවේ ජෝශප් ය.

**26.** ජුදෙව්වරුන්ගේ නමස්කාරයේ දී තිබූ විශේෂ මංගල්‍ය තුන වන්නේ,
(1) සති මංගල්‍යය, ජුදා මංගල්‍යය හා එපීස මංගල්‍යය ය.
(2) ජුදා මංගල්‍යය, පාස්කු මංගල්‍යය හා කුඩාරම් මංගල්‍යය ය.
(3) පාස්කු මංගල්‍යය, සති මංගල්‍යය හා කුඩාරම් මංගල්‍යය ය.
(4) ග්‍රීක මංගල්‍යය, පාස්කු මංගල්‍යය හා කුඩාරම් මංගල්‍යය ය.
(5) සති මංගල්‍යය, මහා මංගල්‍යය හා ජුදා මංගල්‍යය ය.

**27.** පෙන්තකොස්ත දිනයේ දී ලෝකයේ විවිධ තැන්වලින් ජෙරුසලමට පැමිණි පිරිස තම තමන්ගේ භාෂාවෙන් සුභාරංචි තේරුම් ගැනීම තුළින් තහවුරු වන්නේ,
(1) අපෝස්තුළුවරුන් විවිධ භාෂා දැන සිටි බව ය.
(2) අපෝස්තුළුවරුන්ට දිව්‍යමය බලය තිබෙන බව ය.
(3) ශුද්ධාත්මයාණන් වහන්සේ එහි සිටි සියලු දෙනා මත පහළ වූ බව ය.
(4) අපෝස්තුළුවරුන්ගේ නිර්භීතකම තහවුරු කිරීම ය.
(5) ජුදෙව් ජනතාවගේ නුගත් බව තහවුරු කිරීම ය.

**28.** ජෙරුසලම් මන්ත්‍රණ සභාවෙන් ගත් තීරණ තුළින් සභාවේ ඇති වූ ප්‍රධාන වෙනසක් වන්නේ,
(1) ජනවන්දනා පිළිවෙත් සීමා කිරීම ය. (2) කිතු දහම විශ්වීය දහමක් වීම ය.
(3) විජාතීන්ට චර්මඡේදනය තහනම් කිරීම ය. (4) සභා නායකත්ව අභියෝගයට ලක් වීම ය.
(5) භක්ති අභ්‍යාසවල වටිනාකම තහවුරු කිරීම ය.

**29.** ශුද්ධ වූ ස්තේපන්තුමාට විරුද්ධව ඉදිරිපත් කරනු ලැබූ චෝදනාවක් වන්නේ,
(1) මෝසෙස්තුමා අපට ලබා දුන් දේ ජේසුස් වහන්සේ වෙනස් කරන බව පැවසීම ය.
(2) අප නිතර ම මෝසෙස්ගේ ව්‍යවස්ථාවට එකඟ නොවිය යුතු බව පැවසීම ය.
(3) මෝසෙස්ට ජේසුන් වහන්සේ ව්‍යවස්ථාව ඉගැන්වූ බව පැවසීම ය.
(4) මෝසෙස් ජේසුන් වහන්සේගේ ගෝලයකු ලෙස සිටි බව පැවසීම ය.
(5) මෝසෙස් ව්‍යවස්ථාවට පටහැනි ව ක්‍රියා කළ බව පැවසීම ය.

**30.** බෙන්ජමින් ගෝත්‍රයෙහි ජුදෙව් පවුලකට අයත් ශුද්ධ වූ පාවුලුතුමා රෝම පුරවැසිභාවය ලද්දේ කවුරුන් මඟින් ද?
(1) අපෝස්තුළුවරුන් මඟින් (2) අධිරාජ්‍යයා මඟින් (3) තම මව මඟින්
(4) තම පියා මඟින් (5) විජාතීන් මඟින්

**31.** ශුද්ධ වූ පාවුලුතුමාගේ පළමුවැනි ධර්මදූත චාරිකාව සිදු වූයේ,
(1) ක්‍රි.ව. 38 සිට 45 දක්වා ය. (2) ක්‍රි.ව. 46 සිට 49 දක්වා ය. (3) ක්‍රි.ව. 46 සිට 69 දක්වා ය.
(4) ක්‍රි.ව. 54 සිට 65 දක්වා ය. (5) ක්‍රි.ව. 56 සිට 60 දක්වා ය.

**32.** ශුද්ධ වූ පාවුලුතුමා ත්‍රෝවසයේ දී යුතිකස් නම් තරුණයාට පණ දීමේ සිද්ධිය සිදු වූයේ,
(1) පළමුවැනි ධර්මදූත චාරිකාවේ දී ය. (2) දෙවැනි ධර්මදූත චාරිකාවේ දී ය.
(3) තුන්වැනි ධර්මදූත චාරිකාවේ දී ය. (4) රෝම චාරිකාවේ දී ය.
(5) නැව් මඟින් ගමන් කරමින් සිටිය දී ය.

**33.** 'දේව වරප්‍රසාදය' යන වචනයට ශුද්ධ වූ පාවුලුතුමා භාවිත කර ඇති ග්‍රීක වචනය වන 'කාරිස්' යන්නෙහි අර්ථය කුමක් ද?
(1) අචල විශ්වාසය (2) අචල ප්‍රේමය (3) අවංක විශ්වාසය
(4) අවංක බැහැපත්කම (5) නිරන්තර ඉවසීම

**34.** ශුද්ධ වූ සභාව තුළ කිතුනු පවුල හඳුන්වනුයේ,
(1) සමස්ත සභාව ලෙසිනි. (2) අර්ධ සභාව ලෙසිනි. (3) ජුදා සභාව ලෙසිනි.
(4) අනන්ත සභාව ලෙසිනි. (5) ගෘහස්ථ සභාව ලෙසිනි.

**35.** ශුද්ධ වූ පාවුලුතුමා 'අගපේ' යන ග්‍රීක වචනයෙන් අපට හඳුන්වා දෙන ගුණාංගය වන්නේ,
(1) ප්‍රීතියයි. (2) සාමයයි. (3) ඉවසීමයි. (4) ප්‍රේමයයි. (5) යහපත්කමයි.

**36.** පාපයෙන් මිදීම සඳහා දේව වරප්‍රසාදය සහ අනුග්‍රහය අවශ්‍ය **නොවන** බව පවසන්නේ කුමන මතවාදය ද?
(1) එබියොනියන්වාදය (2) පෙලාජියානුවාදය (3) නෙස්ටෝරියන්වාදය
(4) මොනිෆිසියන්වාදය (5) ඒරියන්වාදය

**37.** පහත දැක්වෙන්නේ පුනරුද සමයේ බිහි වූ ග්‍රන්ථ කිහිපයක නම් ය.
A - කාර්මෙල් පර්වත නැග්ම B - ඇතුළාන්ත මන්දිරය C - පූර්ණ දිවියකට මඟ
D - අඳුරු රාත්‍රිය E - ආධ්‍යාත්මික ගීතය
මෙම ග්‍රන්ථ අතුරෙන් ශුද්ධ වූ කුරුසියේ ජොහන් විසින් රචිත ග්‍රන්ථ පමණක් ඇතුළත් වරණය තෝරන්න.
(1) A, B හා C (2) A, C හා E (3) A, D හා E (4) B, C හා D (5) C, D හා E

**38.** 'වෙහෙසෙන මිනිස්සු (රේරුම් නොවාරුම්)' නමැති විශ්ව ලේඛනය ප්‍රකාශයට පත් කරන ලද්දේ,
(1) XIII වැනි ලියෝ ශුද්ධෝත්තම පියතුමා විසිනි.
(2) XI වැනි පියුස් ශුද්ධෝත්තම පියතුමා විසිනි.
(3) II වැනි ජුවාම් පාවුලු ශුද්ධෝත්තම පියතුමා විසිනි.
(4) VII වැනි ග්‍රෙගරි ශුද්ධෝත්තම පියතුමා විසිනි.
(5) VII වැනි පියුස් ශුද්ධෝත්තම පියතුමා විසිනි.

**39.** පෘතුගීසීන් ලංකාවට ගොඩබසින විට මෙරට තිබූ ප්‍රධාන රාජධානි තුන මොනවා ද?
(1) කෝට්ටේ, උතුරුමැද, කන්ද උඩරට (2) කෝට්ටේ, කන්ද උඩරට, උතුර (3) රුහුණු, කෝට්ටේ, උතුර
(4) උඩරට, පහතරට, කෝට්ටේ (5) කෝට්ටේ, රුහුණු, වෙල්ලස්ස

**40.** රෙපරමාදු සහ ප්‍රෙස්බෙටේරියන් යන සභාවල නිර්මාතෘ වනුයේ,
(1) මාටින් ලූතර් ය. (2) නෙස්ටෝරියස් ය. (3) උල්රිච් ස්විංග්ලි ය.
(4) ජෝන් නොක්ස් ය. (5) ජෝන් කැල්වින් ය.

**41.** රෙපරමාදු සභා අතර බොහෝ සෙයින් කතෝලික සභාවේ ලක්ෂණවලින් යුත් සභාව වන්නේ,
(1) මෙතෝදිස්ත සභාව ය. (2) බැප්ටිස්ට් සභාව ය. (3) ගැලවීමේ හමුදාව ය.
(4) ප්‍රෙස්බිටීරියන් සභාව ය. (5) එංගලන්ත සභාව ය.

**42.** කැනරා ප්‍රදේශයේ ප්‍රදේශාධිපති වශයෙන් පත් කරනු ලැබුව ද ශුද්ධ වූ ජුසේවාස් පියතුමාගේ සිත ශ්‍රී ලංකාව දෙසට යොමු වූයේ,
(1) ශ්‍රී ලංකාවේ යහපත් දේශගුණික තත්ත්වය නිසා ය.
(2) ශ්‍රී ලංකාව තුන්වැනි ලෝකයේ රටක් වූ නිසා ය.
(3) ශ්‍රී ලංකාවේ කතෝලිකයින්ගේ පීඩිත අසරණ තත්ත්වය දැන ගත් නිසා ය.
(4) ගෝව පුර සේවා කාලයට වෙනසක් අවශ්‍ය වූ නිසා ය.
(5) ගෝව වසමේ අගරදගුරුතුමාගේ දැඩි නියෝගයක් නිසා ය.

**43.** පෘතුගීසීන් හා සිංහල රජතුමා අතර සබඳතාව වඩාත් තහවුරු කිරීම සඳහා VII වැනි බුවනෙකබාහු රජතුමා විසින් III වැනි ජෝන් රජතුමා වෙත යවන ලද රාජ දූතයා වන්නේ,
(1) දොන් ජුවන් ධර්මපාල ය. (2) ලොරෙන්සෝ ද අල්මේදා ය.
(3) වින්සන්තේ නම් පූජකතුමා ය. (4) සලප්පු ආරච්චි ය.
(5) ජෝන් විලා ද කොන්ඩේ පියතුමා ය.

**44.** පෘතුගීසීන් විසින් ගෝවට යවනු ලැබ, එහි දී 'වික්ටර් ලෙපානෝ' යන නමින් බෞතිස්මය ලැබූ උඩරට කුමාරයා,
(1) දොන් ජුවන් ධර්මපාල ය. (2) ජයවීර බණ්ඩාර ය. (3) කරලියද්දේ බණ්ඩාර ය.
(4) වීරසුන්දර බණ්ඩාර ය. (5) වීදිය බණ්ඩාර ය.

**45.** මිනිසා තුළ පිහිටා ඇති දෙවියන් වහන්සේගේ ස්වරූපයේ සලකුණ කුමක් ද?
(1) ඔහුගේ නිදහස් කැමැත්ත (2) ඔහුගේ හැකියා (3) ඔහුගේ සතුට
(4) ඔහුගේ ශක්තිය (5) ඔහුගේ නිදහස් හෘද සාක්ෂිය

**46.** එංගලන්ත සභාව නියෝජනය කරමින් මෙරටට පැමිණි පළමු ධර්මදූත කණ්ඩායම වන්නේ,
(1) ලන්ඩන් ධර්මදූත කණ්ඩායම ය. (2) බැප්ටිස්ට් ධර්මදූත කණ්ඩායම ය.
(3) වෙස්ලියානු ධර්මදූත කණ්ඩායම ය. (4) ඇමරිකානු ධර්මදූත කණ්ඩායම ය.
(5) ගැලවීමේ හමුදාව ය.

**47.** ක්‍රි.ව. 1834 දී ශ්‍රී ලංකාව කොච්චින් රදගුරු පදවියෙන් වෙන් කර අපෝස්තලික විකාරි වසමක් බවට පත් කරන ලද්දේ,
(1) II වැනි පියුස් ශුද්ධෝත්තම පියතුමා විසිනි. (2) XVI වැනි ග්‍රෙගරි ශුද්ධෝත්තම පියතුමා විසිනි.
(3) XIII වැනි ලියෝ ශුද්ධෝත්තම පියතුමා විසිනි. (4) VII වැනි ග්‍රෙගරි ශුද්ධෝත්තම පියතුමා විසිනි.
(5) XXIII වැනි ජුවාම් ශුද්ධෝත්තම පියතුමා විසිනි.

**48.** ශුද්ධ වූ පවුලේ පැවිදි නිකායේ පැවිදිවරියන් ශ්‍රී ලංකාවට කැඳවාගෙන එන ලද්දේ,
(1) ක්‍රිස්ටෝපර් බොන්ජීන් රදගුරුතුමා ය. (2) හිලේරියන් සිල්ලානි රදගුරුතුමා ය.
(3) ජෝශප් වැන්රිත් රදගුරුතුමා ය. (4) ස්ටීවන් සෙමේරියා රදගුරුතුමා ය.
(5) ක්ලෙමන්ට් පඤ්ඤාණි රදගුරුතුමා ය.

**49.** 'නල්ලූර් ස්වාමි' නමින් හැඳින්වූ ලේඛකයා වන්නේ,
(1) හෙන්රි හෙන්රිකස් ය. (2) පර්සිවල් අයියර් ය. (3) ඩී. නෝබිලේ පියතුමා ය.
(4) බෙෂෙල් නවරත්න ය. (5) ඥානප්‍රකාශර් පියතුමා ය.

**50.** සාම්ප්‍රදායික කතෝලික නාට්ටුකුත්තු ආරම්භ වී වර්ධනය වූ ප්‍රදේශ වනුයේ,
(1) මන්නාරම හා ත්‍රිකුණාමලයයි. (2) යාපනය හා ත්‍රිකුණාමලයයි. (3) යාපනය හා මඩකලපුවයි.
(4) මන්නාරම හා යාපනයයි. (5) අම්පාර හා මන්නාරමයි.

***

AL/2015/43/S-II



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2015 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2015 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2015

| | | |
|---|---|---|
| ක්‍රිස්තියානි ධර්මය II<br>கிறிஸ்தவம் II<br>Christianity II | 43 S II | *පැය තුනයි*<br>*மூன்று மணித்தியாலம்*<br>*Three hours* |

**උපදෙස් :**

※ **I** කොටසින් ප්‍රශ්න **දෙකක්** ද, **II** කොටසින් ප්‍රශ්න **තුනක්** ද තෝරාගෙන, ප්‍රශ්න **පහකට** පිළිතුරු සපයන්න.

## I කොටස

**1.** (i) ඊශ්‍රායලයේ මුල් රජවරු **හතරදෙනා** නම් කරන්න.

(ii) ක්‍රිස්තුන් වහන්සේගේ කාලයට පෙර පලස්තීනය යටත් කර ගෙන සිටි අධිරාජ්‍ය **හතර** නම් කරන්න.

(iii) ද්විතීය නීති සම්ප්‍රදායේ ලක්ෂණ **හතරක්** ලියන්න.

(iv) ශුද්ධ වූ පාවුලුතුමා විස්තර කරන ආකාරයට ක්‍රිස්තුන් වහන්සේගේ නායකත්වයේ ලක්ෂණ **දෙකක්** හා උන් වහන්සේගේ බැහැපත්කමේ ලක්ෂණ **දෙකක්** ලියන්න.

(v) කිතුනු සභාවේ පුනරුද සමයේ බිහි වූ තාපස නිකායන් **හතරක්** නම් කරන්න.

(ලකුණු 04 × 5 = 20 යි)

**2.** (i) **ග්‍රීක** සභා පියවරුන් **හතර දෙනකු** නම් කරන්න.

(ii) දෙවන මැවීමේ කතාවට අදාළ මිනිසාගේ වැටීම සම්බන්ධ උපමා රූපක **හතර** ලියන්න.

(iii) පාරාවෝ යටතේ ඇති දැඩි වූ මෝසෙස් ලත් අත්දැකීම් **හතරක්** ලියන්න.

(iv) දෙවියන් වහන්සේ පීඩිත ජනතාව සමඟ සමීප ව කටයුතු කළ ආකාරය නික්මයාම 3:7-9 දක්වා කොටසේ පෙන්වා දෙන්නේ කෙසේ ද?

(v) ශුද්ධ වූ පාවුලුතුමාගේ දෙවන ධර්මදූත චාරිකාවේ සිදු වූ වැදගත් සිදුවීම් **හතරක්** ලියන්න.

(ලකුණු 04 × 5 = 20 යි)

**3.** (i) සාමයේ කුමාරයාණන්ගේ ආගමනය ගැන සෙකරියා පවසන කරුණු **හතරක්** ලියන්න.

(ii) දේව රාජ්‍යය නිරූපණය කිරීම සඳහා ශුද්ධ වූ මතෙව්තුමා ඉදිරිපත් කළ උපමා **හතරක්** ලියන්න.

(iii) ශුද්ධ වූ මතෙව් සුභාරංචිය දේව රාජ්‍යයේ සුභාරංචිය ලෙස හැඳින්වීමට හේතු වූ ප්‍රධාන දහම් සත්‍යතා **හතරක්** ඉදිරිපත් කරන්න.

(iv) ශ්‍රී ලංකාවේ කිතුනුවන්ට ආගමික නිදහස හිමි වීමත් සමඟ ක්‍රි.ව. 1805 සිට ක්‍රි.ව. 1883 දක්වා කාලය තුළ මෙරට සේවය සඳහා පැමිණි විදේශීය ධර්මදූත කණ්ඩායම් **හතරක්** නම් කරන්න.

(v) සභා පියකු වශයෙන් නම් කරනු ලැබීමට තිබිය යුතු සුදුසුකම් **හතරක්** සඳහන් කරන්න.

(ලකුණු 04 × 5 = 20 යි)

## II කොටස

**4.** (i) උත්පත්ති පොතේ ප්‍රාග් ඉතිහාසය තුළ දක්නට ලැබෙන පාපයේ වර්ධනයේ අවස්ථා **දෙකක්** සඳහන් කර, එයින් ලැබෙන පණිවිඩ **දෙක** බැගින් ලියන්න. (ලකුණු 10 යි)

(ii) පාපයට නැඹුරුව සිටින වත්මන් තරුණ පරපුර එම තත්ත්වයෙන් මුදවා ගැනීමට උත්පත්ති මුල් පරිච්ඡේද එකොළහෙන් ලැබෙන මඟපෙන්වීම කරුණු **පහක්** ඇසුරෙන් පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)

**5.** (i) ශුද්ධ වූ ජොහන්තුමාගේ ලකුණු ලෙසින් හඳුන්වන ජේසුස් වහන්සේ කළ හාස්කම් **තුනක්** නම් කර, එහි ආරම්භක සලකුණු පිළිබඳ ව කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)

(ii) කිතුනු ඔබ දේව රාජ්‍යයේ වටිනාකම් ජීවත්කරවීමේ දී පවුල, පාසල හා සමාජය තුළ මුහුණ දෙන ගැටලු **දහයක්** කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)

**6.** (i) ශුද්ධ වූ මතෙව් සුභාරංචිය ලිවීමේ පරමාර්ථ **දෙකක්** සහ එතුමාට ආවේණික ලක්ෂණ **තුනක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 10 යි)

(ii) සවිස්තර උපමා **දෙකක්** නම් කර, ඉන් **එකක්** ඔබේ ජීවිතයට සම්බන්ධ කරගන්නා ආකාරය පිළිබඳ ව පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)

[ දෙවැනි පිටුව බලන්න.

7. (i) ත්‍රිදෙන්තිනු මන්ත්‍රණ සභාව මගින් ඉදිරිපත් කළ නවෝදමය ව්‍යාපෘති **පහක්** පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)
(ii) දෙවන වතිකානු මන්ත්‍රණ සභාවට අනුව ආගමික සංවාදය සහ සහජීවනය වර්ධනය කිරීමෙහිලා බහු ආගමික පරිසරයක ජීවත් වන ඔබට කළ හැකි දෑ කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 10 යි)

8. (i) 'ශුද්ධ වූ ජුසේවාස් මුනිතුමන්ගේ පහසින් බැබලුණු ලාංකීය කිතුනු සසුන' යන මාතෘකාව පහත සඳහන් සිරස්තල ඔස්සේ විස්තර කරන්න.
(අ) එතුමා මෙරටට පැමිණි දුෂ්කර ගමන
(ආ) ලන්දේසි සමයේ ඉටු කළ දහම් සේවය
(ඉ) එතුමාගේ ධර්මදූත ප්‍රතිපත්ති
(ඊ) ඔරතෝරියානු පියවරුන් මෙරටට ගෙන්වා සිදු කළ සේවය
(උ) භාග්‍යවරයට සහ ශුද්ධවරයට එසවීම

(ලකුණු 10 යි)

(ii) 1948 ශ්‍රී ලංකාවට නිදහස හිමිවීමත් සමඟ ශ්‍රී ලාංකීය සභාවට මුහුණ දීමට සිදු වී ඇති අභියෝග බොහෝ ය. ඒ අතුරෙන් ප්‍රධාන ගැටලු කෙරෙහි අවධානය යොමු කරමින් 'නිදහසින් පසු ශ්‍රී ලාංකීය සභාව මුහුණු දුන් ගැටලු සහ ඒවාට විසඳුම්' යන මැයෙන් පුවත්පතකට ලිපියක් සකස් කරන්න. (ලකුණු 10 යි)

***